# සිංහලයනට වින කරන පඤ්ච මහා බලවේගය

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

බොහෝ කාලයක පටන් අසිංහලයන් හා අබෞද්ධයන් වාසය කරතත් ශ්‍රී ලංකාව සිංහල බෞද්ධ රටයි. එය අසිංහලයනට හා අබෞද්ධයනට ද පමණක් නොව ඇතැම් සිංහල බෞද්ධයනට ද අමතක වී ඇති බව පෙනේ. එහෙයින් සිංහලකම ගැන හා බෞද්ධකම ගැන කතා කිරීම ජාති වාදයක් ය, ආගම් වාදයක් යැයි කියන තරම් අදූරදර්ශී අති පණ්ඩිත සිංහල බෞද්ධයෝ ද සිටිති. අතිදීර්ඝ ඉතිහාසයක් ඇති සිංහලකමට ත් වර්ෂ දෙදහස් පන්සියයකට ආසන්න ඉතිහාසයක් ඇති බෞද්ධකමට ත් හානිකර පඤ්ච මහා බලවේගයක් ශ්‍රී ලංකාව පුරා පැතිරෙමින් පවතී.

1. කතෝලික බලවේගය
2. දෙමළ බලවේගය
3. මුස්ලිම් බලවේගය
4. දේශපාලන බලවේගය
5. ඡන්ද බලවේගය  වශයෙනි.

## 1. කතෝලික ආක්‍රමණය:

මේ "බලවේග" යන වචනය වෙනුවට කලින් භාවිතා කළේ "ආක්‍රමණ" යන්නයි. මහජනතාවට හොඳටම පුරුදු නිසා ඉදිරියට "ආක්‍රමණ" යන වචනය යොදනු ලැබේ.

අප කතෝලික ආගමට විරුද්ධ නැත. එහෙත් කතෝලික ආක්‍රමණයට සියයට පන්සියයකින් විරුද්ධයි. කතෝලිකයන් හොඳින් ආගම අදහනවාට සියයට පන්සියයක් සතුටු ය. එහෙත් ආගම් නාමයෙන් කරගෙන යන ව්‍යාපාරයනට සියයට පන්සියයක් විරුද්ධ ය. කතෝලිකයන් ආගම අදහන්නට පල්ලි හදනවාට විරුද්ධ නැත. එහෙත් ලෝකයෙහි නානා රටවලින් මුදල් ලබා ගෙන ගමින් ගම ලොකු ඉඩම් මිලයට ගෙන කතෝලිකයන් ඔවුන්ට අවනත කරවා ගත හැකි බෞද්ධයන් කෙනෙකු දෙන්නෙකු හා කතෝලිකයන් වැඩි සංඛ්‍යාවක් ද පදිංචි කරවා බෞද්ධයන් ආක්‍රමණය කරන්නට පල්ලි හදනවාට සියයට පන්සියයක් විරුද්ධ ය. දැන් කතෝලික ආක්‍රමණය දියුණු වී කතෝලික හොල්මන යයි කිව යුතු තත්ත්වයට පැමිණ ඇත. හොල්මන් තිබෙන තැන් වල බඩුමුට්ටු පෙරළනවා. එහෙත් පෙරළන කෙනෙකු පෙනෙන්නට නැත. එලෙසින් කතෝලික ආගම සියයට පන්සියයක් ක්‍රියාකාරීයි. එහෙත් කිසිවක් නැති තරමට නිහඬයි. දැන් කතෝලික ආක්‍රමණය සිරිලක පුරාම හොල්මන් කරනවා.

කතෝලික ආක්‍රමණික පූජකවරුන් කැළෑබද දුප්පත් ගම්වල පදිංචි වී දුප්පත්කම දඩමීමා කරගෙන දුප්පත් බෞද්ධයනට "සමාජ සේවා" නමින් උපකාර කෙරෙමින් බෞද්ධයන් ආක්‍රමණය කරනවා. ක්‍රිස්තුස් වහන්සේ ජීවතුන් අතර සිටියා නම් මගේ නමින් එබඳු පහත් වැඩ කරන්නට එපා යැයි කියනවා නො අනුමාන ය. මේ කරුණ ගැන කොළඹ ප්‍රධාන බෞද්ධ සමිති නියෝජිතයන් අත්සන් කොට මහ බිෂොප්තුමාට සන්දේශයක් යැවුවා. වැඩක් වුණේ නැත.

අපේ ස්වාමීන් වහන්සේලාට ඔබඳු සමාජ සේවා කරන්නට බැරි මන්දැයි අසන්නට පිළිවන. එබඳු ගම්වල නැත්තම් ගම ආසන්නයෙහි පන්සල් ඇතත් වැඩි සංඛ්‍යාවක් පන්සල් වල ස්වාමීන් වහන්සේලා වාසය කරන්නේ ඉතා දුකසේ ය. උන් වහන්සේලාට ත් කාරණා වැටහෙතත් ආක්‍රමණිකයන් මුදලින් කරන උපකාරයනට සමාන උපකාර කරන්නට හැකියාවක් නැත.

උගත් බෞද්ධ කලා විශාරද තිරාණගම රතනසාර ස්ථවිරයන් වහන්සේ තමන් ගේ සුව පහසු අත්හැර ගොස් ආක්‍රමණික පූජකතුමකු වාසය කරන කැළෑබද ගමක කුටියක් හදාගෙන පදිංචි වී කටයුතු ආරම්භ කළා. ප්‍රධාන බෞද්ධ සමිති වල හා දානපතියන්ගේ ද ආධාර ඇතිව

පන්සලක් සුළුවෙන් හදා ගෙන ආගමික සේවා මෙන් ම සමාජ සේවා කටයුතු ත් කර ගෙන යනවා. එහෙත් ආක්‍රමණික පූජකතුමා කරන තරම් වියදම් කරන්නට මුදල් නැත.

මේ ආක්‍රමණිකයන් කලක පටන් උගත් තරුණ භික්ෂූන් සිවුරු හරවා රැකියාවන්හි යෙදවීම හොඳින් කරගෙන යනු ලැබේ. දැන් මේ උවදුරට සැහෙන සංඛ්‍යාවක් අසු වී ඇති බව වාර්තා වේ. මෙබඳු කූටෝපක්‍රම යොදා ආගම පතුරුවන්නට යෑම කවර නම් පහත් වැඩක් ද?

## 2. දෙමළ ආක්‍රමණය:

දමිළයන් කොපමණ නත් දෙඩෙව්වත් “ශ්‍රී ලංකාව” දෙමළ රටක් නො ව හෙළ දිවයිනයි. රාවණ රජතුමා දෙමළෙක් නොවී, හෙළයෙකි. දමිළයන්ගෙන් කොටසක් සිරිලක අල්ලා ගන්නට දකුණු ඉන්දියාවෙන් පැමිණි ආක්‍රමණිකයෝ ය. කොටසක් උඩරට වතුවල සේවයට ආවාහු වෙති. එයින් ආක්‍රමණිකයෝ නොයෙක් වර ආක්‍රමණය කොට සිංහල ජනතාවට ත් සම්බුද්ධ ශාසනයට ත් සිදු කළ හානි වල සීමාවක් නැත. සිංහල දමිළ යුද්ධ කීපයක් හා කෝලහල රාශියක් සිදු වී ඇත. ඉතිහාසයට අනුව බලන විට ඒ හැම යුද්ධයක් ම, හැම කෝලහලයක් ම ආරම්භ කළාහු දමිළයෝ ය. ඔවුන් සිංහලයන්ගේ අයිතිවාසිකම් උදුරා ගන්නට සටන් වැදුණු විට සිංහලයෝ සිය අයිතිවාසිකම් රැක ගන්නට සටන් වැදුණාහ. දමිළයන් ගේ මෙවර ආක්‍රමණය 1977 අගෝස්තු 13 වෙනිදා ය. එයින් රට පුරාම කෝලහල ඇති විය. දෙපක්ෂයට ම අලාභ හා කරදර ඇති විය. එහෙත් ජයග්‍රහණය ඔවුන් සතු විය. කෝලහලයට පෙර කොළඹ දිසාවෙහි දමිළයෝ එක් ලක්ෂ භාරදහසක් පමණ සිටියහ. කෝලහල කාලයෙහි ඔවුනගෙන් වැඩි දෙනා උතුරට ගියා. එහෙත් 1981 ජනගහනය අනුව ඔවුන් ආපසු අවුත් එක්ලක්ෂ හැටපන්දහසක් පමණ සැප සේ සිටිනවා. කෝලහලයට පෙර උතුරු දිසාවෙහි සිංහලයන් විසිතුන් දහස ඉක්මවා සිටියා. එහෙත් එහි දැන් හමුදා හැරුණු විට සාමාන්‍ය සිංහල වැසියන් එක්කෙනෙකු ද නැති තරම් ය.

සිංහල ප්‍රදේශ වල විශ්ව විද්‍යාලයන්හි අධ්‍යාපනය කළ දෙමළ සිසුහු කරදර කාලයෙහි උතුරට ගොස් සැපසේ වාසය කොට දැන් නැවතත් සිටි තැන්වල සැපසේ ඉගෙනීම ලබති. යාපනේ විශ්ව විද්‍යාලයන්හි සිංහල ගුරු ශිෂ්‍යයෝ 400 ක් පමණ සිටියහ. දැන් එක්කෙනෙකුවත් සිටිනවා ද?

යාපනේ සිංහලයනට රජයෙන් දෙන ඉඩම් කොටස් 140 ක් පමණ තිබුණා. ඉන් එකකටවත් යන්නට පිළිවන්කමක් නැත. දමිළයන් මුළු ලංකාවේ ම ඉඩම් ලබා ගෙන ඇත. දෙමළ ආක්‍රමණය කොපමණ සාර්ථක ද? ලොකු ම තැන්වල ලොකුම උපදේශකවරු ද දමිළයෝ ය. එහෙයින් ඊළාම් හැරෙන්නට ඔවුන්ගේ බලාපොරොත්තු සියල්ල ම සඵල වෙමින් පවතී. මේ දිනවල දමිළයන්ගේ ද ආක්‍රමණ තත්ත්වය ඉක්මවා ගොස් හොල්මන් තත්ත්වයට පත් ව ඇත. ඔවුන්ගේ එකම බලාපොරොත්තුව උතුර හා නැගෙනහිර ඒකාබද්ධ කොට ගැනීමයි. දැන් එය ලැබී ඇත. ඉතිරි වැ තිබෙන්නේ ඊළාම් රජයේ කොඩිය ඔසවා ප්‍රකාශ කිරීම පමණයි.

## 3. මුස්ලිම් ආක්‍රමණය:

මුස්ලිම් ආක්‍රමණය පටන් ගත්තේ ඈත අතීතයේ සිට ය. මැද පෙරදිග පටන් ඉන්දියාව අවසන් කොට ඇති සියලු බෞද්ධ රටවල් ආක්‍රමණය කළහ. ඊට කලින් බෞද්ධ තත්ත්වය කෙතරම් ඉහළින් තිබුණා ද කිවහොත් අද බොහොම කලබල තිබෙන ඉරාක - ඉරානයෙන් පමණක් රුවන් වැලිමහා සෑයේ මුල්ගල තැබීමේ උත්සවයට රහතන් වහන්සේලා ලක්ෂ ගණනක් වැඩම කළහ. දැන් බෞද්ධ පුළුටක් නැත. බෞද්ධ රටක් වන ඉන්දුනීසියාව ආක්‍රමණය කළේ යුධ කිරීමකින් නො වේ. මුස්ලිම් වෙළෙන්දන් සමූහ වශයෙන් ගොස් ඉන්දුනීසියාවේ ගැහැණුන් අවාහ කර ගෙන ජනගහනය වැඩි කිරීමෙනි. ඒ ආක්‍රමණ ශ්‍රී ලංකාවෙහි ත් දියුණු වෙමින් පවතී. වර්තමාන අර්බුදයෙහි දී මුස්ලිම්වරු සිංහලයන් සමඟ සුහද ව වාසය කිරීම ඉතා වැදගත් කාර්යයකි.

## 4. දේශපාලන ආක්‍රමණය:

දේශපාලන ආක්‍රමණය නම් දෙකට බෙදී සිටින දේශපාලන බලවතුන් තමන්ගේ බලය පතුරුවන්නට කරන ආක්‍රමණයයි. මෙය ලෙහෙසියෙන් තේරුම් ගැනීමට පුරාණ බෞද්ධ වූ

මෙකල මුස්ලිම් රටක් වන ඇෆ්ගනිස්ථාන ආක්‍රමණය සිහි ගන්වමු. ශ්‍රී ලංකාවට යුධ හමුදා එවීම එතරම් පහසු කාර්යයක් නොවනු ඇත. එහෙත් බලවත් දෙපිරිසම ඔවුන්ගේ අදහස් පතුරුවමින් රහසිනුත් එළිපිටත් නොයෙක් ආධාර කරයි. වියට්නාමය, කාම්බෝජය, ලාව යන බෞද්ධ රටවල් තුනම විනාශයට පත් කළේ මේ දෙපිරිසේ දේශපාලන ආක්‍රමණයන් ම ය. මේ දේශපාලන ආක්‍රමණය ශ්‍රී ලංකාවෙහි ද තදින් පවතී. ඉන්දු ලංකා සාම ගිවිසුම ත් දේශපාලන ආක්‍රමණයේ ප්‍රතිඵලයක් යයි සමහරු කියති.

දේශපාලන ආක්‍රමණිකයනට තිරිකුණාමල වරායේ බලය අල්ලා ගැනීම අති විශේෂ ජයග්‍රහණයකි. එය කෝටි ප්‍රකෝටි ධනයක් වටිනා ජයග්‍රහණයකි. දේශපාලන බලවතුන් දෙදෙනාගෙන් කෙනෙකු තිරිකුණාමලය වරායේ බලය උවමනාව තුබුණු තවත් බලවතුන් ගේ මාර්ගයෙන් අල්ලා ගත්තා. එය තමා දේශපාලන ආක්‍රමණය.

## 5. ඡන්ද ආක්‍රමණය:

ඡන්ද ආක්‍රමණය නම් තමන් සතු ඡන්දයෙන් ආක්‍රමණය කිරීමයි. සිංහලයන් පක්ෂ වශයෙන් බෙදී ඇත. මැතිවරණයක් ළං වන විට ප්‍රධාන දෙපක්ෂයේ ම දිනන අදහස උග්‍ර වෙයි. බොහෝ විට ම තරඟයෙහි දී කොහොම හරි දිනන අදහස මුදුන්පත් වෙයි. ඊට පසු සිදු වන විනාශය වැසී යයි.

උතුරු හා නැගෙනහිර දෙමළ ආසන 18 ක් පමණ වෙයි. මේ ආසන 18 සිය පක්ෂයට හරවා ගන්නට දෙපැත්තට ම නො දෙන පෙරොන්දුවක් නැති තරම් ය. 1977 මැතිවරණයේ දී මුස්ලිම් ඡන්ද දායකයන් දහසකට අධික සංඛ්‍යාවක් ඉන්නා සිංහල ආසන 68 ක් තිබුණා. තරඟ කරන්නේ දෙපක්ෂයේ ම සිංහල දෙදෙනෙකි. එක වැඩි ඡන්දයෙනු ත් දිනන්නට පිළිවන. මුස්ලිම් ප්‍රධානීහු ප්‍රධාන දේශපාලන පක්ෂ දෙකට ම සම්බන්ධ වී සිටිති. එක් පක්ෂයක් ඔවුනට සම්බන්ධ මුස්ලිම් ප්‍රධානීන් කැඳවා මුස්ලිම් ඡන්ද අපේ පක්ෂයට ලබා දෙන්න. අපේ රජය පිහිටෙව්වාට පසු ඔබේ ඉල්ලීම් සපුරා දෙන්නම්. අනෙක් පක්ෂය ද ඔවුනට සම්බන්ධ ප්‍රධානීන් කැඳවා මුස්ලිම් ඡන්ද අපේ පක්ෂයට ලබා දෙන්න. අපේ රජය පිහිටෙව්වාට පසු ඔබ ඉල්ලනවාට ත් වඩා කරුණු සපුරා දෙන්නම්. දැන් මුස්ලිම් ප්‍රධානීහු වෙන ම දේශපාලන පක්ෂයක් හදා ගෙන ඇත. එහෙත් දිනූ පක්ෂයට සම්බන්ධ වීම ඔවුන් බුද්ධිමත් ව කරන ක්‍රියාවකි.

දැන් මැතිවරණයෙන් දිනුවා. සිංහලයන් බැන ගන්නවා. ගහ ගන්නවා. ගෙවල් ගිනි තබා මිනී මරා ගන්නවා. ඒ අතර ම දිනූ පැත්තට හෝයියා කියා ගෙන මුස්ලිම් ප්‍රධානීහු දිනූ පැත්තේ ප්‍රධානියා කරා යති. තමුන්නාසේලා කියූ නිසා අපේ පැත්තේ ඡන්ද සියල්ල ම ඔය පැත්තට දුන්නා. ඉතින් අපට දුන් පොරොන්දු පමා නැතිව සපුරා දෙන්න. බොහොම හොඳයි. අප අරගොල්ලන් වගේ බොරුවට පොරොන්දු වුණේ නැහැ. අපි කෙළෙහිගුණ දන්නා හොඳ මිනිස්සු. අපි සාධාරණ මිනිස්සු. සිංහල ජනගහනය එක් කෝටි නව ලක්ෂයයි. මුස්ලිම් ජනගහනය එකොලොස් ලක්ෂයයි. එසේ වුවත් අප දිනුවේ ඔබේ ඡන්දයෙන් තමයි. අර පැරණි ඉල්ලීම් හැරෙන්නට තව අලුත් ඉල්ලීම් මොනවහරි තියෙනවද? කියන්න, මැලි වන්නේ නැතිව කියන්න. ඔවුන්ගේ වැඩ හරි. තවමත් සිංහලයා බැන ගන්නවා, ගෙවල් කඩනවා. මේ තමා ඡන්ද ආක්‍රමණය.

මේ පඤ්ච මහා බලවේගයෙන් හෙවත් ආක්‍රමණයෙන් බොහෝ කලක පටන් සිංහල බෞද්ධයා තෙරපී ඇඹරී සිටී. තව ටික කලක් යන විට තැලී, පොඩි වී, විනාශ වී යන්නට පිළිවන. එසේ වුවොත් ලංකා ශාසනය ද නැති වී යනවා. ඒ විපත වළක්වාගෙන සිංහල අසිංහල භේද හා බෞද්ධ අබෞද්ධ භේද නැති කොට ශ්‍රී ලංකාව සිංහල බෞද්ධ රට හැටියට දිගට ම පවත්වාගෙන යාමට නො වරදින මග මෙන්න.

## සිංහල සමගිය:

කෙනෙකුට ඊ පහරක් වදී. එය ශරීරය විදගෙන යයි. ඔහු බිමට ඇද වැටෙයි. හිතවන්තයෝ ඔහු වටා රොක් වෙති. අදූරදර්ශීහු තර්ක කරන්නට පටන් ගනිති. මේ ඊතලය ආවේ කොහෙන් ද? මේ ඊතලය තනා ඇත්තේ කවර දැයෙකින් ද? කවර කම්හලකින්ද? මෙසේ තර්ක කරමින් සිටින අතර තුවාලකරුද මැරී යයි. අදූරදර්ශී හිතවන්තයෝ පසුව කණගාටු වෙති. මේ පිළිබඳව බුදුරජාණන් වහන්සේ ගේ උපදේශය මීට ඉඳුරා ම විරුද්ධ ය.

වැඩක් නැති තර්ක කරමින් සිටින විට ලෙඩා මැරෙනවා. එහෙයින් තර්ක නතර කොට ඊය ගලවා බෙහෙත් කොට ලෙඩාගේ ජීවිතය බේරා ගැනීම කළයුතු වන්නේ ය.

ජාතික විපත්වලදී දූරදර්ශී ඥානවන්තයන් විසින් ක්‍රියා කළ යුත්තේ බුදුරජාණන් වහන්සේ දේශනා කළ ආකාරයට බව නුවණැති කාටත් වැටහෙනවා ඇත. පුරාණ කාලයෙහි සිංහලයන් ජාතික විපත්ති අවස්ථාවන්හි දී වාද භේද දුරලා එක්සත්ව ක්‍රියා කොට රට ජාතිය ආගම හා භාෂාව ආරක්‍ෂා කළ හැටි ඉතිහාසය කියයි. විශේෂයෙන් දුටුගැමුණු, වළගම්බා, මහා විජයබා, ගජබා, පැරකුම්බා, ආදී රජවරුන්ගේ කාලයන්හි සතුරු බල මර්ධනය කොට සිංහලකම රැකගත් හැටි සිංහලයන්ගේ සිහියට ගන්වමි. මේ හැම අවස්ථාවකදී ම එක්සත් ව එක්සිත් ව ක්‍රියා කළේ සිංහලකම රැක ගන්නට ය. සිංහලයන් නසන්නට ආ අසිංහලයන් නැසෙන්නට ඇත. එහෙත් මෙකල එබඳු සටනක් අවශ්‍ය නැත. උවමනා සිංහලයන්ගේ සමගියයි. සිංහලයන් සමගි නම් කිසිදු සටනක් නැතිව සිංහල කම රැක ගන්නට හැකි වෙයි. අසිංහලයන්ගේ සාධාරණ අයිතිවාසිකම් ද රැක දිය හැකි වේ.

මෑත යුගයේ දී ජාතික විපත් අවස්ථාවල දී වාද භේද ප්‍රතිපත්ති ආදී සියල්ල ම අමතක කොට සමගිව ක්‍රියා කළ අවස්ථා කීපයක් සඳහන් කරන්නේ සිංහලයන්ට ත් දූරදර්ශීව කල්පනා කිරීමට ය. දෙවන ලෝක යුද්ධය ආරම්භයේ දී සර් හිට්ලර් ගේ ආක්‍රමණ යුරෝපාකරයෙහි අන්‍ය ජාතිකයනට බලවත් තර්ජනයක් විය. එවකට එංගලන්තයේ දේශපාලන පක්‍ෂ දෙකක් විය. අන්‍ය රටවල ද විවිධ දේශපාලන මත දරන පක්‍ෂ රාශියක් විය. එහෙත් දූරදර්ශී වූ ඔවුන් කල්පනා කළේ දැන් දේශපාලන පක්‍ෂ හෝ ප්‍රතිපත්ති ගැන තර්ක කරමින් සිටීම නොව වාද භේද අමතක කොට ජාතිය බේරා ගැනීම ගැන ය. පළමුව එංගලන්තයේ ප්‍රධාන දේශපාලන පක්‍ෂ විසින් විවිධ ප්‍රතිපත්ති අමතක කොට සමගිව සභාග රජයක් පිහිටුවා ගන්නා ලදි. අනතුරුව අසල්වැසි රටවල් ද වාද භේද අමතක කොට සමගිව මිත්‍ර සංවිධානයක් පිහිටුවා ගන්නා ලදි. එකල අග්‍රාමාත්‍යව සිටි චෙම්බර්ලේන් මහත්මා සිය කැමැත්තෙන් අග්‍රාමාත්‍ය ධූරයෙන් අස් වී එය චර්චිල් මහත්මාට බාර දුන්නා. දේශපාලන ප්‍රතිපත්ති අතින් ඇමරිකාව, එංගලන්තය හා රුසියාව ඉඳුරා ම වෙනස් ය. එහෙත් දේශපාලන ප්‍රතිපත්ති ගැන තර්ක කිරීමට වඩා ජාතික විනාශය වළක්වා ගැනීම උසස් කොට සැලකූ රුසියාව ද මිත්‍ර සංවිධානයට එකතු විය. දේශපාලන ප්‍රතිපත්ති රකින්නට ගොස් ජාතිය විනාශ කර ගැනීම තරම් මෝඩයන් නොවූ ඇමරිකානු එංගලන්ත හා රුසියන් රට වැසියෝ සතුරු ආක්‍රමණ මර්දනය කොට විජයග්‍රහණය කළහ.

ජාතික විපතෙහි දී ඇමරිකන් එංගලන්ත රුසියන් වැසියනට හා ලංකාවේ ද ද්‍රවිඩයන්ට ත් මුස්ලිම්වරුන්ට ත් දේශපාලන මතභේද දුරලා සමගිව කටයුතු කරන්නට පිළිවන් නම් ජාතික විපතෙහි දී සිංහලයනට පමණක් දේශපාලන මතභේද දුරලා සමගිව කටයුතු කරන්නට නොහැකි මන්දැයි සිංහල දේශපාලකයන්ගෙන් සිංහල ජනතාව ඇසිය යුතුය.

පින්වත් සිංහලයනි, ද්‍රවිඩ මුස්ලිම් සහෝදරයන් සමග අපේ කිසිම විරුද්ධකමක් නැති බව පැහැදිලිව ම කියන්න. සිංහලයන්ගේ සමගිය අනුනට පහර ගැසීමට නොව සිංහලයාට ඇති එකම රට රැක ගැනීමට බවත් කියන්න. උපමාවක් වශයෙන් කියතොත් අන්‍යයනට ගහන කටුවක් මෙන් නොව අන්‍යයන් ගහන පහර වළක්වන පළිහක් මෙනි. හොඳයි අප එකතු වී කටයුතු කරන්නට කැමතියි, එකතු වන්නේ කෙසේ දැයි ප්‍රශ්නයක් නැංවිය හැකිය. මෙන්න ඊට පිළිවෙත:

බුදුරජාණන් වහන්සේ ගේ කාලයෙහි රාජාණ්ඩු ක්‍රමය හා සමූහාණ්ඩු ක්‍රමය යයි පාලන ක්‍රම දෙකක් විය. කොසොල් රජතුමා ආදීන් අමාත්‍ය මණ්ඩලයක් පිහිටුවා ගෙන රට පාලනය කළ අතර ලිච්ඡවීහු හා මල්ලයෝ සමූහාණ්ඩු ක්‍රමයෙන් රට පාලනය කළහ. එයින් ලිච්ඡවීන් අන් හැමට ම වඩා දියුණු ව සිටියහ. එයට ප්‍රධාන හේතුව ඔවුන් තුළ සමගිය නීති ගරුත්වය ප්‍රතිපත්ති ගරුත්වය තිබීමයි. ශ්‍රී ලංකාවට ද ලිච්ඡවී පාලන ක්‍රමය වැනි රජයක් අත්‍යවශ්‍ය බව අනාගතය ගැන මැදහත්ව නුවණින් සලකා බලන විට වැටහෙනවා එකාන්තයි.

සිංහලයිනි සමගි වන්න, සමගි වන්න, සමගි වන්න, සිංහල සමගිය ජාතික සමගියේ පදනමයි. සිංහලයන් දූරදර්ශීව සමගි නො වුනහොත් සිංහලයා ගේ අනාගතය අඳුරුයි, අඳුරුයි, අඳුරුයි. අනාගත සිංහලයන් අප ජාතික හතුරන් හැටියට සලකනවා ඇති. වර්තමාන වීරයන් යයි සිතා ගෙන ඉන්නා සමහරුන්ගේ රූප පඹයන් මෙන් හදාගෙන පෙළපාලියෙන් ගෙන ගොස් පුළුස්සා දමනවා ඇත.

දවස 1987.09.14
ප්‍රඥාප්‍රභා 7

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා